# ශ්‍රී ලංකා ජාතික ගීය

ශ්‍රී ලංකා මාතා

අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා

සුන්දර සිරිබරිනී, සුරැඳි අති සෝබමාන ලංකා

ධාන්‍ය ධනය නෙක මල් පලතුරු පිරි ජය භූමිය රම්‍යා

අපහට සැප සිරි සෙත සදනා ජීවනයේ මාතා

පිළිගනු මැන අප භක්ති පූජා

නමෝ නමෝ මාතා

අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා

ඔබ වේ අප විද්‍යා ඔබ ම ය අප සත්‍යා

ඔබ වේ අප ශක්ති අප හද තුළ භක්ති

ඔබ අප ආලෝකේ අපගේ අනුප්‍රාණේ

ඔබ අප ජීවන වේ අප මුක්තිය ඔබ වේ

නව ජීවන දෙමිනේ නිතින අප පුබුදු කරන් මාතා

ඥාන වීර්ය වඩවමින රැගෙන යනු මැන ජය භූමි කරා

එක මවකගෙ දරු කැල බැවිනා

යමු යමු වී නොපමා

ප්‍රේම වඩා සැම භේද දුරැර ද නමෝ නමෝ මාතා

අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා

අපි වෙමු එක මවකගෙ දරුවෝ
එක නිවසෙහි වෙසෙනා
එක පාටැති එක රුධිරය වේ
අප කය තුළ දුවනා

එබැවිනි අපි වෙමු සොයුරු සොයුරියෝ
එක ලෙස එහි වැඩෙනා
ජීවත් වන අප මෙම නිවසේ
සොඳින සිටිය යුතු වේ

සැමට ම මෙත් කරුණා ගුණෙනී
වෙළී සමගි දමිනී
රන් මිණි මුතු නො ව එය ම ය සැපතා
කිසි කල නොම දිරනා

ආනන්ද සමරකෝන්



"අලුත් වෙමින්, වෙනස් වෙමින්, නිවැරදි දැනුමෙන්
රටට වගෙ ම මුළු ලොවට ම වෙන්න නැණ පහන්"

## ගරු අධ්‍යාපන අමාත්‍යතුමාගේ පණිවුඩය

ගෙවී ගිය දශක දෙකකට ආසන්න කාලය ලෝක ඉතිහාසය තුළ සුවිශේෂී වූ තාක්ෂණික වෙනස්කම් රැසක් සිදුවූ කාලයකි. තොරතුරු තාක්ෂණය, සන්නිවේදනය ප්‍රමුඛ කරගත් සෙසු ක්ෂේත්‍රවල ශීඝ්‍ර දියුණුවත් සමඟ වත්මන් සිසු දරු දැරියන් හමුවේ නව අභියෝග රැසක් නිර්මාණය වී තිබේ. අද සමාජයේ පවතින රැකියාවල ස්වභාවය නුදුරු අනාගතයේ දී සුවිශේෂී වෙනස්කම් රැසකට ලක් වනු ඇත. එවන් වටපිටාවක් තුළ නව තාක්ෂණික දැනුම සහ බුද්ධිය කේන්ද්‍ර කරගත් සමාජයක වෙනස් ආකාරයේ රැකියා අවස්ථා ද ලක්ෂ ගණනින් නිර්මාණය වනු ඇත. ඒ අනාගත අභියෝග ජයගැනීම වෙනුවෙන්, ඔබ සවිබල ගැන්වීම අධ්‍යාපන අමාත්‍යවරයා ලෙස මගේත්, අප රජයේත් ප්‍රමුඛ අරමුණයි.

නිදහස් අධ්‍යාපනයේ මාහැඟි ප්‍රතිලාභයක් ලෙස නොමිලේ ඔබ අතට පත් වන මෙම පොත මනාව පරිශීලනය කිරීමත්, ඉන් අවශ්‍ය දැනුම උකහා ගැනීමත් ඔබේ ඒකායන අරමුණ විය යුතු ය. එමෙන් ම ඔබේ මවුපියන් ඇතුළු වැඩිහිටියන්ගේ ශ්‍රමයේ සහ කැපකිරීමේ ප්‍රතිඵලයක් ලෙස රජය විසින් නොමිලේ පාසල් පෙළපොත් ඔබ අතට පත් කරනු ලබන බව ද ඔබ වටහා ගත යුතු ය.

ලෝකය වේගයෙන් වෙනස් වන වටපිටාවක, නව ප්‍රවණතාවලට ගැළපෙන අයුරින් නව විෂය මාලා සකස් කිරීමටත්, අධ්‍යාපන පද්ධතිය තුළ තීරණාත්මක වෙනස්කම් සිදු කිරීම සඳහාත් රජයක් ලෙස අප කටයුතු කරන්නේ රටක අනාගතය අධ්‍යාපනය මතින් සිදු වන බව අප හොඳින් ම අවබෝධ කරගෙන සිටින බැවිනි. නිදහස් අධ්‍යාපනයේ උපරිම ප්‍රතිඵල භුක්ති විඳිමින්, රටට පමණක් නොව ලොවට ම වැඩදායී ශ්‍රී ලාංකික පුරවැසියකු ලෙස නැඟී සිටින්නට ඔබ ද අදිටන් කරගත යුතු වන්නේ එබැවිනි. ඒ සඳහා මේ පොත පරිශීලනය කිරීමෙන් ඔබ ලබන දැනුම ද ඉවහල් වනු ඇති බව මගේ විශ්වාසයයි.

රජය ඔබේ අධ්‍යාපනය වෙනුවෙන් වියදම් කරන අතිවිශාල ධනස්කන්ධයට වටිනාකමක් එක් කිරීම ද ඔබේ යුතුකමක් වන අතර, පාසල් අධ්‍යාපනය හරහා ඔබ ලබා ගන්නා දැනුම හා කුසලතා ඔබේ අනාගතය තීරණය කරන බව ද ඔබ හොඳින් අවබෝධ කර ගත යුතු ය. ඔබ සමාජයේ කුමන තරාතිරමක සිටිය ද සියලු බාධා බිඳ දමමින් සමාජයේ ඉහළ ම ස්තරයකට ගමන් කිරීමේ හැකියාව අධ්‍යාපනය හරහා ඔබට හිමි වන බව ද ඔබ හොඳින් අවධාරණය කර ගත යුතු ය.

එබැවින් නිදහස් අධ්‍යාපනයේ උපරිම ප්‍රතිඵල ලබා, ගෞරවනීය පුරවැසියකු ලෙස ඔබට හෙට ලොව දිනන්නටත් දේශ දේශාන්තරවල පවා ශ්‍රී ලාංකේය නාමය බබළවන්නටත් හැකි වේවා! යි අධ්‍යාපන අමාත්‍යවරයා ලෙස මම ශුභ ප්‍රාර්ථනය කරමි.



**අකිල විරාජ් කාරියවසම්**
අධ්‍යාපන අමාත්‍ය

# පෙරවදන

ඔබ ජන්මලාභය ලබා ඇත්තේ ඉන්දීය සාගරයේ මුතු ඇටය යැයි විරුදාවලී ලත් රටකය. ඔබේ රට අන් රටවල් හා සැසඳූ කල කුඩා රටක් ලෙස පෙනුණද එහි අගය අමිල ය. එවන් අගනා පුණ්‍යභූමියක උපන් ඔබ සැම සැබවින්ම වාසනාවන්ත පිරිසකි. සිසු දරුදැරියන් වන ඔබ සැම, හොඳින් අධ්‍යාපනය ලබා ගුණ නැණ බෙලෙන් යුතු පුරවැසියන් ලෙස අනාගත ලෝකය එළිය කරනු දැකීම අපගේ ඒකායන අපේක්ෂාවයි. එම අපේක්ෂාව මුදුන්පත් කරලනු පිණිස අධ්‍යාපනය සඳහා අවශ්‍ය සියලු පහසුකම් නොමිලේ සැපයීමට රජය කටයුතු කරයි. මෙම පොත ඔබට තිළිණ කෙරෙන්නේ ද එහි එක් පියවරක් වශයෙනි.

නව ප්‍රාථමික විෂය මාලාවට අනුව මේ වන විට 1, 2, 3 සහ 4 ශ්‍රේණි සඳහා නව පෙළපොත් හඳුන්වා දී ඇත. 2020 වර්ෂයේ දී 5 වැනි ශ්‍රේණියට නව පෙළ පොත් හඳුන්වා දීමෙන් අනතුරුව මෙම අදියරේ ප්‍රාථමික විෂයමාලා සංශෝධනය නිමාවට පත්වේ. 1 ශ්‍රේණියේ සිට 5 ශ්‍රේණිය දක්වා ප්‍රාථමික ශ්‍රේණිවල සිප් සතර හදාරන ශිෂ්‍ය ප්‍රජාව වෙනුවෙන් රජය තිළිණ කරන පෙළපොත් සංඛ්‍යාව 30 ක් පමණ වේ. මේ වටිනා සම්පතින් ජීවිතය ආලෝකවත් කර ගැනීමට කටයුතු කිරීම ඔබ සැමගේ වගකීම විය යුතුය.

මෙම පෙළපොත ඔබ අතට පත් කිරීම සඳහා කැපවීමෙන් කටයුතු කළ ලේඛක හා සංස්කාරක මණ්ඩල සාමාජික මහත්ම මහත්මීන්ට සහ අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුවේ කාර්ය මණ්ඩලයට මාගේ ස්තුතිය පුද කරමි.

**ඩබ්ලිව්. එම්. ජයන්ත වික්‍රමනායක,**
අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්,
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව,
ඉසුරුපාය,
බත්තරමුල්ල.
2019.04.10

**නියාමනය හා අධීක්ෂණය**

| | | |
|---|---|---|
| ඩබ්ලිව්. එම්. ජයන්ත වික්‍රමනායක මයා | - | අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |

**මෙහෙයවීම**

| | | |
|---|---|---|
| ඩබ්ලිව්. ඒ. නිර්මලා පියසීලි මිය | - | අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් (සංවර්ධන)<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |

**සම්බන්ධීකරණය**

| | | |
|---|---|---|
| ප්‍රගීතිකා ජයසේකර මිය | - | සහකාර කොමසාරිස්<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |

**සංස්කාරක මණ්ඩලය**

| | | |
|---|---|---|
| ජේ. බී. දිසානායක මයා | - | සම්මානිත මහාචාර්ය |
| එම්. ආර්. ඩබ්ලිව්. මද්දුම මයා | - | අධ්‍යක්ෂ,<br>මුල් ළමාවිය හා ප්‍රාථමික අධ්‍යාපන දෙපාර්තමේන්තුව,<br>ජාතික අධ්‍යාපන ආයතනය,<br>මහරගම. |
| ජේ. ඒ. නිර්මලා දමයන්ති ජයසිංහ මෙය | - | කථිකාචාර්ය,<br>මුල් ළමාවිය හා ප්‍රාථමික අධ්‍යාපන දෙපාර්තමේන්තුව,<br>ජාතික අධ්‍යාපන ආයතනය,<br>මහරගම. |
| ඒ. ඩී. බාලපටබැඳිගේ මිය | - | සහකාර අධ්‍යාපන අධ්‍යක්ෂ,<br>ප්‍රථමික අධ්‍යාපන ශාඛාව,<br>අධ්‍යාපන අමාත්‍යාංශය. |

## ලේඛක මණ්ඩලය

| | | |
|---|---|---|
| එච්. පී. සුසිල් සිරිසේන මයා | - | කථිකාචාර්ය<br>හාපිටිගම විද්‍යාපීඨය<br>මීරිගම |
| ඩබ්ලිව්. කරුණාරත්න මයා | - | කථිකාචාර්ය,<br>ගිරාගම ගුරු මධ්‍යස්ථානය, ගිරාගම,<br>පිළිමතලාව. |
| ඩබ්ලිව්. එම්. රෝහිණී චිත්‍රලතා මිය | - | ප්‍රාථමික ගුරු උපදේශක,<br>කලාප අධ්‍යාපන කාර්යාලය,<br>ගිරිඋල්ල, වයඹ පළාත. |
| විපුලි නිරෝෂිණී හෙට්ටිආරච්චි මෙය | - | රාජ්‍ය සම්මාන ලාභී ලේඛිකා<br>(ළමා සාහිත්‍යය) |
| තනූජා නිශාන්ති අයගම මෙය | - | රාජ්‍ය සම්මාන ලාභී ලේඛිකා<br>(ළමා සාහිත්‍යය) |
| පී. වයි. දිනේෂ් ධම්මික කුමාර මයා | - | ගුරු සේවය<br>ධර්මාශෝක විදුහල<br>අම්බලන්ගොඩ |

## භාෂා සංස්කරණය

මහාචාර්ය රත්න විජේතුංග මයා

## සෝදු පත් කියවීම

| | | |
|---|---|---|
| ජයත් පියදසුන් මයා | - | නියෝජ්‍ය ප්‍රධාන උපකර්තෘ, සිළුමිණ,<br>ලංකාවේ සීමාසහිත එක්සත් ප්‍රවෘත්ති<br>පත්‍ර සමාගම |

## චිත්‍ර හා පිටකවර නිර්මාණය

| | | |
|---|---|---|
| සමන් කළුබෝවිල මයා | - | ගුරු සේවය,<br>අනුර මධ්‍ය මහා විද්‍යාලය,<br>යක්කල |

## පරිගණක අක්ෂර සංයෝජනය හා පිටු සැකසුම

| | | |
|---|---|---|
| එස්. වී. ජී. එරංගා දිල්රුක්ෂි මිය | - | පරිගණක අංශය,<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |
| පී. ආර්. කපිල කසුන් බණ්ඩාර මයා | - | පරිගණක අංශය, |



# පටුන




# කොරවක් පැටික්කිට අකුරු කියවපු දා



එකෝමත් එක රටක
ලොකු කැලෑ රොදක
'කොරවක්කො' කියලා කියන
කුරුල්ලො කට්ටියක් හිටියා.

එකෝමත් එක දවසක
කොරවක්කි කොරවක්කා දැකලා
කතා කරලා කීවා,
"අපේ කොරවක් පැටික්කිට
අකුරු කියවන්ට
කියාපු කාලෙ" කියලා.
කොරවක්කා කන්දක් උඩක
කැන්ද ගහක
අත්තකට නැගලා
"කොවාක් කොවාක්" කියලා
කෑගහලා කීවා අනික් කුරුල්ලන්ට
"කරුණාකරලා අකුරු කියවන නැකතට
කවුරු කවුරුත් එන්ට" කියලා.





අකුරු කියවන නැකතට
කැලේ ඔක්කොම කුරුල්ලො,
කවුඩු පණික්කියොයි කාක්කොයි
කැස්වටුවොයි කෑදැත්තොයි
කිරල්ලුයි ඇටිකුකුළොයි
වලිකුකුළොයි කොක්කුයි
කෝකිලයොයි ඔක්කොම ආවා.
දැක්කේ නැද්ද කෙවිලිය?

අකුරු කියවන්ට කීවෙ බකමූණාට.
බකමූණා "හූම් හූම්" කියලා
කොරවක් පැටික්කිට කතා කරලා කීවා
"මුලින් ම කයන්න කියවමු" කියලා.
"කයනු කී කයන්නේ, කයන්නට
ඇලපිල්ල ලියා ලූයෙන් කායන්නේ" කියලා,
බකමූණා කවුරුත් කරන ආකාරයට කීවා.

කොරවක් පැටික්කි ටිකක් අකීකරුයි.
කට ඇරලා කෑ ගහලා කීවා
"කොවාක් කොවාක්" කියලා.
කොරවක්කන්ට මේ තාක් කල්
අකුරු කියවන්ට බැරි
කාරණාවක් ඕක.

මේ කතාව උපුටා ගන්නා ලද්දේ මහාචාර්ය ජේ. බී. දිසානායකගේ 'අකුරු මිහිර 3' පොතෙනි.





# 2 තරු කැට

ආකාසේ නිල් තරු කැට
පියාඹලා මහ පොළොවට
සේපාලිකා මල් ගහ උඩ
දිලිසෙනවා කදිම රුවට



මාල පොටක් පොඩි නංගිට
හදා දෙන්න පුළුවනි මට
නූල් පටක් අරන් අතට
හෙමින් ගියා ගහ ගාවට



සර සර ගා එක රෑනට
ඉගිල්ලුණා නිල් තරු කැට
කණාමැදිරියනි ආයෙත්
සමාවෙලා එන්න බිමට

රත්න ශ්‍රී විජේසිංහගේ සැලළිහිණියෝ
පොතෙන් උපුටා ගන්නා ලදි.




# අපේ නිදහස් උත්සවය

කවිඳු යාළුවොත් එක්ක මිදුලේ සෙල්ලම් කරමින් සිටියා. “පුතා යාළුවොත් එක්ක මෙහෙට එන්න” කවිඳුගේ අම්මා කතා කළා. කවිඳු යාළුවොත් එක්ක ගේ ඇතුළට ආවා. අම්මා රූපවාහිනිය බලනවා. රූපවාහිනියේ ලොකු උත්සවයක් පෙන්වනවා.



හමුදා පෙළපාළි

යුද්ධ ටැංකි



අහසේ කරණම් ගසන ගුවන් යානා

පැරෂුට් භටයෝ





තවත් බොහෝ දේවල් රූපවාහිනිය මත දිග හැරෙනවා. කවිඳුටයි යාළුවන්ටයි මේක හරි ම ප්‍රහේලිකාවක්.

ඒ හින්දා ම කවීශා ප්‍රශ්නයක් ඇහුවා. "මොකක් ද නැන්දේ මේ උත්සවය?"

"ඒ පුතේ අපේ රටේ නිදහස් උත්සවය."

"මොකක් ද නිදහස් උත්සවය කියන්නේ?'' ඒ ප්‍රශ්නය ඇහුවෙත් කවීශා ම යි.

"හැමෝම අහගන්නකෝ." කවිඳුගේ අම්මා උත්තර දෙන්න සූදානම් වුණා.



පළමුවන නිදහස් උත්සවය

"අපේ රට 1815 අවුරුද්දේ ඉඳලා බ්‍රිතාන්‍ය ජාතිකයන්ට යටත් වෙලයි තිබුණේ. 1948 පෙබරවාරි හතරවන දා අපි ඔවුන්ගෙන් නිදහස් වුණා. ඊට පස්සෙ හැම අවුරුද්දක ම පෙබරවාරි හතරවන දා අපි නිදහස් දිනය උත්සවාකාරයෙන් සමරනවා. ඒක අපේ රටේ පවත්වන ජාතික උත්සවයක්."

“ඒ හින්දා ද අම්මේ තාත්තා අද ජාතික කොඩියක් එල්ලුවේ?” ඒ ප්‍රශ්නය ඇහුවේ කවිඳු. “අන්න හරි. නිදහස් දිනය දවසට ශ්‍රී ලංකාවේ අපි හැමෝම හැම ගෙදරක ම ජාතික කොඩිය ප්‍රදර්ශනය කරනවා. නිදහස් දිනය කියන්නේ අපේ අභිමානය ලෝකෙට ම පෙන්නන දවසක්. ඒ ජාතික උත්සවය තමයි පුතේ ඔය රූපවාහිනියේ පෙන්වන්නේ.” කවිඳුගේ අම්මා උත්තර දුන්නා.

යාළුවෝ හැම දෙනා ම නිදහස් උත්සවය බැලුවා.






# මගේ රට



පුංචි අපට
    සිරි සැප දෙයි
සිරි ලංකා
    දීපේ

පාන්දර ම
    එහෙන් මෙහෙන්
ඇසෙයි කුරුලු
    ගීතේ

ඕලු නෙලුම්
    පිපී වැනෙයි
පිරිලා වැව්
    ගානේ

ඇළ දොළ ගං
ඉවුරු දිගේ
වන මල් පෙති
පාවේ

සුදු වැල්ලේ
කවඩි උඩින්
රළ පෙරළෙයි
මූදේ

උසට උසේ
කඳු ද පෙනේ
වලාකුළු ද
ගෑවේ

පිපෙන සමන්
පිච්ච පොකුරු
නැළවෙයි හඳ
පානේ



ඉර එළියට
හඳ එළියට
වෙලේ ගොයම්
නැවේ

වනන්තරේ
ගස් බිල්වල
මී පැණි බිඳු
බේරේ

හරි සුවඳයි
පැසෙයි ඉදෙයි
පලතුරු හැම
වාරේ

පුංචි අපට
සිරි සැප දෙයි
සිරි ලංකා
දීපේ

**ශ්‍රී චන්ද්‍රරත්න මානවසිංහ**





# 5 හරි පුදුමයි

මම ඉපදුණේ කොළයක.
මම එළියට ආවේ පුංචි බිත්තරයකින්.



බඩගින්නක් ආවා. මම
ටිකෙන් ටික කොළය කෑවා.

ඒත් බඩ පිරුණේ නෑ. මම
තවත් කොළයක් කෑවා. ඒ
විතරක් නෙවෙයි, රස ම රස
මල් පොහොට්ටුත් කෑවා.



හොඳට ම බඩ පිරුණා. මට නිදිමතක් දැනුණා. මම සිනිඳු රෙද්දක් පෙරවා ගත්තා.

ඒකට කියන්නේ,
කෝෂය කියලා.

මම කෝෂය ඇතුළෙ
සති දෙකක් විතර හිටියා.

ඒ අතරේ මගේ ඇඟ
ටික ටික වෙනස් වුණා.





දවසක් මම
කෝෂයෙන්
එළියට ආවා.



මට මොකද වුණේ?
මම අලුත් වෙලා.
මගේ මුළු ඇඟ ම වෙනස් වෙලා.
මට හිතා ගන්න බෑ.
පාට පාට අත්තටු ඇවිල්ලා.
හරි පුදුමයි.



මම වටපිට බැලුවා. සමනල්ලු අත්තටු සලමින් පියාඹනවා.
මමත් එයාලා වගේ කියලා මට හිතුණා.
මටත් දැන් පියාඹන්න පුළුවන්.

බඩගින්නක් දැනුණා. මම කොළයකට ළං වුණා.
ඒත් කොළ කන්න බෑ.

මම සමනලුන් දිහා බැලුවා.
එයාලා ඈතට පියාඹනවා.
මමත් එයාලත් එක්ක පියෑඹුවා.

පාට පාට මල් පිරිලා. ලස්සන මල් වත්තක්.



සමනල්ලු රංචුව මල්වලට ළං වුණා.
පැණි බොන්න පටන් ගත්තා.

මමත් මලක් උඩ වැහුවා.
පැණි ටිකක් බිව්වා.



මල් පෙති මගේ අත්තටු වගෙයි,
හරි ම සිනිඳුයි. ඒ වගේ ම පාට පාටයි.

දළඹු යාළුවෝ ටිකක් මම දැක්කා.
මම ළං වෙලා බැලුවා.
එයාලා මා හඳුනා ගත්තේ නෑ.

මම හුඟාක් වෙනස් වෙලා.

දැන් මම දළඹුවෙක් නොවෙයි, සමනලයෙක්.
මේ දළඹු යාළුවොත් දවසක ලස්සන සමනල්ලු වේවි.



# 6 සභාවෙන් අවසරයි



"ආයුබෝවන්! අද අපේ ළමා සමිතිය රැස් වෙන දවස. හැමෝම සූදානම් වෙලා ආවා නේ ද?" ගුරුතුමිය ඇහුවා.

"ඔව්" කවුරුත් එක හඬින් පිළිතුරු දුන්නා.

හැමෝම නැගිටලා ආගම සිහි කළා.

''මුලින් ම මනුකගේ කතාවෙන් අපි සමිතියේ වැඩ පටන් ගනිමු'' ගුරුතුමිය කිව්වා.

"ආයුබෝවන්, සභාවෙන් අවසරයි!"

"පොත් කියවීමෙන් මිනිසා සම්පූර්ණ වේ."

"අද මං කතා කරන්නේ පොත් කියවීමේ අගය ගැන. අපි අපේ විවේකය ගත කරන්න නොයෙක් දේ කරනවා. පොත් කියවීමෙන් අපට ඒ කාලය සතුටින්, විනෝදයෙන්, සැහැල්ලුවෙන් ගත කරන්න පුළුවන්. කවි, ගීත, කතන්දර පොත් කියවලා දැනුම ලබන්නත් පුළුවන්. මගේ විනෝදාංශය පොත් කියවීම.

මම පාසලේ පුස්තකාලයෙන් පොත් අරගෙන කියවනවා. මගේ උපන්දිනේටත් මට පොතක් ලැබෙනවා. ලස්සන පින්තූර, චිත්‍ර වගේ ම අලුත් තොරතුරු ඒ පොත්වල තියෙනවා. පොත් කියවද්දි පොතේ තියෙන දේවල් හිතේ මැවෙනවා. තව තවත් පොත් කියවන්න ආසා හිතෙනවා. ඒ වගේ ලියන්න ඇත්නම් කියා මටත් හිතෙනවා.

අපි හැමෝම පොත් කියවීමට පුරුදු වෙමු.
මට සවන් දුන්නාට හැම දෙනාට ම ස්තුතියි."



මනුකගේ කතාවට කවුරුත් සතුටින් අත්පොළසන් දුන්නා.

ඊළඟට සඳුනිගෙන් කවියක්.

“සභාවෙන් අවසරයි!

මම සභාවට ඉදිරිපත් කරන්නෙ හැමෝම දන්න පුංචි කවියක්.

ගුරු සිත නොරිද වා
වේලාව නොවරද වා
බැති පෙම් උපද වා
අකුරු උගනී කුමරු සොඳ වා

අපි හොඳින් ඉගෙන ගෙන යහපත් පුරවැසියන් වෙමු. අසා සිටි ඔබ සැමට ස්තුතියි! ”



ඊළඟ වාරය තරණිගෙ. තරණි ලස්සන නාට්‍ය ගීතයක් ගායනා කළා.



ඇහැළ මලින් ගස් පිරිලා
බලන්න හරි ලස්සනයි
අඹ රඹුටන් ජම්බු ඉදිලා
අද හැමතැන හරි හැඩයි //

තරණි ඒ ගීතයට නැටුමකුත් ඉදිරිපත් කළා. හැමෝම තාලයට අත්පුඩි ගැසුවා.

නොදැනී ම කාලය ගත වුණා. කතාවට දක්ෂ අය කතා කළා. ගායනයට දක්ෂ අය කවි, ගීත ගායනා කළා. සභාවේ හැම දෙනා ම සතුටු වුණා.

"අද සමිතියේ වැඩ ඉතා ම සාර්ථකයි." ගුරුතුමිය ළමයින්ගේ දක්ෂතා අගය කළා. සභාවෙ වැඩ අවසන් වුණා.

හැමෝම හිටියේ හරි ම සතුටින්.

"ඊළඟ දවසේ මාත් සින්දුවක් කියනවා." යසිරු කිවුවා.



# 7 තේරවිලි



1. තපස් රකිනවා
කෙතේ ඉන්නවා
මාළු සොයනවා
කියන්න මගෙ නම

2. උඩහ ගෙදර මම යනකොට
අඟර දඟර වැලක් තිබුණා
මල් සුවඳයි ගෙඩි තිත්තයි
නොතේරුවොත් ටොකු විස්සයි.

3. ගුලක් බලා　　　　　රිංගනවා
ඒක ඇතුළෙ　　　　　කැරකෙනවා
ගේ දොර බඩු රැක　　　　　දෙනවා
තේරුවොතින් පඩි　　　　　දෙනවා

4. දත් තිබුණත් කටක්　　　　　නැතේ
සියලු ම දත් උල්ව　　　　　ඇතේ
අවුල් ලිහා හැඩ　　　　　කරතේ
නැති ගෙදරක් ඇත්තෙ　　　　　නැතේ

5. පිරිසිදුකම කරන　　　　　අගේ
රැවුල ඉත්තැකුරු　　　　　වගේ
මිදුල වටේ යන එන කොට
රැවුල ඇදෙයි පොළොව　　　　　දිගේ





මැස්සෙකුයි, ගෙම්බෙකුයි, ඉත්තෑවෙකුයි, කුකුළෙකුයි ගස් කොටයක් උඩ ගෙයක් හදාගෙන උන්නා.

මැස්සගෙ නම රුංරුං පැංචා. ගෙම්බගෙ නම බක බක අප්පුහාමි. ඉත්තෑවගෙ නම ඉඳිකටු මුදියන්සෙ. කුකුළාගෙ නම හඬලන රාල.

දවසක් දා මේ හතර දෙනා කැලෑවක් මැදින් ගමනක් ගියා. හතු, මල්, ගෙඩි ජාති, දර එකතු කරන්න. රුංරුං පැංචා යාළුවො තුන් දෙනාගෙ ඔළු උඩින් පියාසර කෙරුවා.



ඉතිං ඔහොම ගිහින්, ගිහින් මේ හතර දෙනා ම ගස් කොළං නැති පාළු පිට්ටනියකට ආවා. එතන පුංචි කරත්තයක් තිබෙනවා දැක්කා. කරත්තෙට සවි කරල තිබුණෙ එකට එක නොගැළපෙන රෝද. පළමුවෙනි රෝදෙ බොහොම කුඩා එකක්. දෙවෙනි රෝදෙ තරමක් ලොකුයි. තුන්වෙනි රෝදෙ ඊට ලොකුයි. හතරවෙනි රෝදෙ මහ විශාලයි.

යාළුවෝ පුදුම වෙලා කරත්තෙ දිහා බලාගෙන ඉන්නකොට, ළඟ තිබුණ පඳුරකින් හාවෙක් එළියට පැන්නා. එයත් කරත්තෙ දිහා බලලා හිනා වෙනවා. හාවාගෙ නම පිනුම් හාමි.

"මේ කරත්තෙ ඔයාගෙ ද?" කියලා යාළුවෝ හතර දෙනා පිනුම් හාමිගෙන් ඇහුවා.

"නෑ. ඒක වලස් හාමිගෙ කරත්තෙ. වලස් හාමි ඔය කරත්තෙ හදන්න බොහොම මහන්සි ගත්තා. නමුත් එයාට ඒක හදල ඉවර කරන්ට බැරි වුණා" කියලා පිනුම් හාමි කිවුවා.



“මේ කරත්තෙන් වැඩක් ගන්ට පුළුවන්. ඒ හින්ද අපි මේක ගෙදර ගෙනියමු” කියලා ඉඳිකටු මුදියන්සෙ කිවුවා.

“හොඳයි, හොඳයි” කියලා ඒ අදහසට අනිත් යාළුවො තුන් දෙනා ම කැමති වුණා.

ඒ හතර දෙනා ම එකතු වෙලා කරත්තෙ තල්ලු කරන්න පටන් ගත්තා. රෝද එකට එක ගැළපෙන්නෙ නැති හින්ද කරත්තෙ පොඩ්ඩක්වත් හෙල්ලුණේ නෑ. තල්ලු කළාට මොකද පාර පුරා ගස් මුල්වල හැපිලා කරත්තෙ ඒ අත මේ අත පෙරළුණා මිසක් ඉදිරියට ගියේ නෑ.

අහකට වෙලා බලාගෙන හිටිය පිනුම් හාමි හති වැටෙන තුරු හිනා වුණා. කරත්තෙ තල්ලු කරපු යාළුවො හතර දෙනාට හොඳට ම මහන්සියි.





"අපි එක එක්කෙනා එක එක රෝදය ගෙදර ගෙනියමු" කියලා ඉදිකටු මුදියන්සෙ කිවුවා.

හතර දෙනා ම ඒකට කැමති වෙලා එක එක රෝදය ගත්තා. රුංරුං පැංචා ඉතා ම කුඩා රෝදය පෙරළන්ට පටන් ගත්තා. ඉදිකටු මුදියන්සෙ ඊළඟ රෝදය පෙරළන්න පටන් ගත්තා. බක බක අප්පුහාමි තරමක් ලොකු රෝදය පෙරළන්න පටන් ගත්තා. හඬලන රාල විශාල රෝදය පෙරළා ගෙන ගෙදර ගියා.

"මේ ගොල්ලො හරි පුදුම මිනිස්සු. එකට එක ගැළපෙන්නෙ නැති රෝද ගෙදර ගෙනියනවා" කියලා පිනුම් හාමි කිවුවා. ඊට පස්සෙ පිනුම් හාමි පඳුරු අස්සට පැනලා යන්න ගියා.



රැංරැං පැංචයි, ඉඳිකටු මුදියන්සෙයි, බක බක අප්පුහාමියි, හඬලන රාලයි රෝද හතර ගෙදර ගෙනාවා. රෝදවලින් වැඩක් ගන්නේ කොහොමදැයි කියලා හතර දෙනා ම කල්පනා කරන්න පටන් ගත්තා.



“මම දන්නවා වැඩක් ගන්න හැටි” කියලා රැංරැං පැංචා කිවුවා. එයා ඉතා ම කුඩා රෝදයෙන් නූල් කටින යන්තරයක් හදා ගත්තා.



ඉඳිකටු මුදියන්සෙ එයා ගෙනා රෝදයට ලී පටි දෙකක් සවි කරගෙන තනි රෝදෙ අත් කරත්තයක් හදා ගත්තා.

“මටත් පුළුවනි මගේ රෝදයෙන් වැඩක් ගන්න” කියලා බක බක අප්පුහාමි කිවුවා. රෝදය ළිඳට උඩින් සවි කරලා බක බක අප්පුහාමි ලෙහෙසියෙන් වතුර අදින්න පටන් ගත්තා.





වේගයෙන් ගලා යන දිය පාරකට අහුවෙලා කැරකැවෙන්න රෝදය සවි කර ගත්තු හඬලන රාලට පුළුවන් වුණා ජල බලයෙන් වැඩ කරන මෝලක් හදා ගන්ට.

මේ විදියට සියලු ම රෝදවලින් වැඩ ගන්න පුළුවන් වුණා.

රැංරුං පැංචා නූල් කටින යන්තරයෙන් නූල් ඇඹරුවා. බක බක අප්පුහාමි ළිඳෙන් වතුර ගෙනැවිත් වත්තේ එළවළු කොටුවට දැම්මා. ඉදිකටු මුදියන්සෙ කැලේට ගිහිල්ලා පලතුරු සහ දර කඩා ගෙන ඒවා තනි රෝදෙ අත් කරත්තෙ පටවා ගෙන ආවා. හඬලන රාල එයාගෙ මෝලෙ පිටි අඹරන්ට පටන් ගත්තා.



යාළුවො හතර දෙනාගෙ සැපදුක් දැනගන්න දවසක් පිනුම් හාමි ඒ ගොල්ලන්ගෙ ගෙදරට ආවා.

යාළුවො හතර දෙනා පිනුම් හාමි දැකලා බොහොම සන්තෝස වුණා. රැංරැං පැංචා පිනුම් හාමිට අත් මේස් කුට්ටමක් ගොතලා දුන්නා. බක බක අප්පුහාමි ලොකු කැරට් අලයක් දුන්නා. ඉදිකටු මුදියන්සෙ ඇපල් ගෙඩියක් දුන්නා. හඬලන රාල රස කැවිලියි පාන් ගෙඩියකුයි දුන්නා.
එදා රෝද ගෙනියන කොට හිනාවෙච්ච නිසා පිනුම් හාමිට ලැජ්ජා හිතුණා.

"මට සමා වෙන්න. රෝද එකට එක ගැළපෙන ඒවා නොවුණත්, ඒවා පාවිච්චි කරන හැටි දන්න අය ඉන්නවා නම් වැඩ ගන්න පුළුවන් විත්තිය දැන් මට පේනවා" කියලා පිනුම් හාමි කිවුවා.



වී. සුතේයෙව්
'කතන්දර හා පින්තූර' කෘතියෙනි.
අනුවාදය: පද්ම හර්ෂ කුරණගේ




# මුහුදු වෙරළට චාරිකාවක්

හෝ ගා රැලි නැග්ගා. සීතල දිය බිංදු ඇඟේ වැදුණා. ලොකු රැල්ලක් ඇවිත් වෙරළේ හැපුණා. හැමෝගෙම දෙපා ඒ දිය පහරෙන් තෙමුණා. සමහරු එහා මෙහා දිව්වා; සෙල්ලම් කළා.

සුළඟ හැමුවා. මුහුදේ රැලි නැගුණා. වේගයෙන් ආ මුහුදු රැල්ලක් ගල් කුළක හැපිලා සුදු පෙණ කැටි විසිරිලා ගියා. 'හෝ' ගාගෙන ඈතින් එන රැල්ලක් දැකලා කවුරුත් ටිකක් බය වුණා.

"හැමෝම එකට අත් අල්ලා ගන්න" ගුරුතුමිය කිව්වා.



වරුණි තැනින් තැන තිබුණු සිප්පි කටු, කවඩි එකතු කර ගත්තා. මනුකයි, තරිඳුයි වෙරළේ වාඩි වෙලා වැලි මාලිගාවක් හැදුවා. වරුණි ලස්සන ම ලස්සන සිප්පි කටුවලින් මාලිගාව සැරසුවා. හැමෝම ඒ දිහා බලාගෙන හිටියා. ගුරුතුමිය කැමරාවෙන් පින්තූරයක් ගත්තා.



සරුංගලයක් ඈත අහසේ පා වෙනවා. ඒ දිහා බලාගෙන සමහරු විනෝද වුණා.

වෙරළ අයිනේ දම් පාට බිම් තඹුරු මල් පිපී තිබුණා. ඒ දිගේ වැවුණු වැටකෙයියා ගාල වෙරළ ආරක්ෂා කරනවා කියලා ගුරුතුමිය කිවුවා. ගල් වැටි හදලා තියෙන්නෙත් අපේ ආරක්ෂාවට ලු.



ඈත මුහුදේ නැවක් නැංගුරම් ලා තිබුණා. ගුරුතුමිය නැවේ කුඹ ගහ මුදුනේ වැනෙන කොඩිය ළමයින්ට පෙන්නුවා. ධීවර බෝට්ටු වෙරළෙ තැනින් තැන නවත්වලා. දැල් ආම්පන්න තව තැනක ගොඩ ගහලා. වෙළෙන්දෝ මාළු තෝරනවා. ලොකු ම ලොකු මාළු කුරියෝ රිදී පාටින් දිලිසෙනවා. උදේට වෙරළ හරි ම කලබල යි. මුහුදු ගිහින් ආ ධීවර පිරිසක් ළමයින්ට අත වැනුවා.

“මුහුද හරි ම ලස්සන යි.”

රවිඳු දබරැඟිල්ලෙන් වැල්ලේ ලිවුවා.

“මුහුදු රැල්ලක් ආවොත් අකුරු මැකෙයි” තරිඳු කිවුවා.



"මුහුදයි, මුහුදු වෙරළයි දෙක ම ලස්සනයි. ඒ අපි හැමෝම මුහුදු වෙරළ පිරිසිදුව තියාගෙන ඉන්න නිසා" වරුණි කිවුවේ මුහුදෙ සද්දෙටත් වඩා සද්දෙන්.

"අහසයි මුහුදයි එකට ගෑවෙනවා ද?" නිසල් ඇහුවා. හැමෝම ඈත මුහුද දිහා බැලුවා.

"අපට එහෙම පෙනුණට අහස මුහුදෙ ගෑවෙන්නෙ නැහැ." ගුරුතුමිය කිවුවා.

"ඔව්, හවසට ඉර බැහැගෙන යද්දි ඉර මුහුදෙ ගිලෙනවා වගේ" සඳුනි කිවුවා.

"ඉර ගිනි බෝලයක් වගේ මුහුදෙ ගිලෙනවා බලන්න මම නම් හරි ම ආසයි" වරුණිත් කිවුවා.

"අද මම ගෙදර ගිහින් ලස්සන චිත්‍රයක් අඳිනවා" මනුක කිවුවා.




# ජිංජි බරස් බරස් බරස්

විවේක කාලය ආවා. කෑම කාලා ඉවර වෙලා යාළුවෝ පිට්ටනියට එකතු වුණේ සෙල්ලම් කරන්න.

"ඊයෙ මනුක සීයා කෙනෙක් වෙලා" සහන් කිවුවෙ හැමෝටම ඇහෙන්න.

"සීයා කෙනෙක්? ඇයි දත් හැලුණා ද? ඒත් කොණ්ඩෙ නම් සුදු වෙලා නෑ" කවීශා කිවුවා.

"නෑ, නෑ, මනුකලාගේ ගෙදරට නෑයො ඇවිත්. මනුක ඊයේ අලුත් සෙල්ලමක් ඉගෙන ගෙන."

"අලුත් සෙල්ලමක්! අනේ අපිටත් කියලා දෙන්න කෝ"

පවනි කිවුවා.

"ඒකේ නම පොල් කැඩීම."

"මමත් ඒ සෙල්ලම දන්නවා" පවනි කිවුවේ ආඩම්බරෙන්. "එහෙනම් හැමෝට ම කියලා දෙමු" මනුක කිවුවා.

මනුක සහ පවනි යහළුවන්ට පොල් කැඩීමේ ක්‍රීඩාව කරන හැටි කියලා දුන්නා.

"මම මුලින් ම සීයා වෙන්නම්" පවනි කිවුවා.

"ඒක හොඳයි" කිවුවෙ සහන්.

"එන්න අපි පොල් ගහ හදමු" මනුක යාළුවන්ට කතා කළා.

හැමෝම තමන්ගෙ අත් මිට මොළ වා එක උ ඩ එක තබා පොල් ගහ හැදුවා.



| | | |
|---|---|---|
| යාළුවෝ | : | සීයෙ, සීයෙ පොල් ගෙඩියක් කඩා ගන්න ද? |
| පවනි | : | එපා... එපා... |
| යාළුවෝ | : | නැට්ට නං කැරකෙවුවා. |
| පවනි | : | හා එහෙනම් එකක් කඩා ගන්න. |
| යාළුවෝ | : | දඩිං... බිඩිං... ඩෝං... |

යාළුවෝ පොල් ගෙඩි ඔක්කොම කඩන ආකාරයට ශබ්ද කරමින් අත් ඉවතට ගත්තා.

| | | |
|---|---|---|
| යාළුවෝ | : | සීයේ, සීයේ, පොල් ලෙලි ගහන්න ද? |
| පවනි | : | එපා... එපා... |
| යාළුවෝ | : | පොඩ්ඩක් ලෙලි ගැහුවා. |
| පවනි | : | හා එහෙනම් ඔක්කොම ලෙලි ගහන්න. |

යාළුවෝ පොල් ලෙලි ගහන ආකාරය පෙන්නුවා.



යාළුවෝ : සීයේ, සීයේ පොල් බිදින්න ද?

පවනි : එපා... එපා...

යාළුවෝ : පොඩ්ඩක් බින්දා.

පවනි : හා එහෙනම් ඔක්කොම බිදින්න.

යාළුවෝ පොල් බිදින ආකාරය පෙන්නුවා.



යාළුවෝ : සීයේ සීයේ පොල් වතුර බොන්න ද?

පවනි : එපා... එපා...

යාළුවෝ : පොඩ්ඩක් බිව්වා.

පවනි : හා එහෙනම් ඔක්කොම බොන්න.

යාළුවෝ වතුර බොනවා වාගේ පෙන්නුවා.

යාළුවෝ : සීයේ සීයේ පොල් ගාන්න ද?

පවනි : එපා... එපා...

යාළුවෝ : පොඩ්ඩක් ගෑවා.

පවනි : හා එහෙනම් ඔක්කොම ගාන්න.

යාළුවෝ : ජිංජි බරස් බරස් බරස්.

යාළුවෝ දණහිස නවා අත් දෙක එකතු කර පොල් ගාන ආකාරය රඟපෑවා.



යාළුවෝ : සීයේ සීයේ පොල් මිරිකන්න ද?

පවනි : එපා එපා.

යාළුවෝ : පොඩ්ඩක් මිරිකුවා.

පවනි : හා එහෙනම් ඔක්කොම මිරිකන්න.

යාළුවෝ : මිටි කිරි කිරි දිය කිරි කිරි
ඉඳා කපුටො පොල් කුඩු.

යාළුවෝ පොල් මිරිකා කුඩු ඉවතට විසි කරන ආකාරය පෙන්නුවා.

පවනි : මම එහෙනම් නාගෙන එන්නම්.

යාළුවෝ : හා හොඳයි සීයේ.

පවනි ටික දුරක් ගොස් ආපසු යහළුවන් වෙත ආවා.

පවනි : කෝ පොල් කිරි ටික?

යාළුවෝ : උඩහ ගෙදර බල්ලා බීවා.

පවනි : උඩහ ගෙදර බල්ලා කෝ ?

යාළුවෝ : ළිඳට පැන්නා.

පවනි : ළිඳ කෝ?

යාළුවෝ : ගොඩ කළා.

පවනි : ගොඩ කෝ?

යාළුවෝ : තම්පලා හිටෙවුවා.

පවනි : තම්පලා කෝ?

යාළුවෝ : රජ්ජුරුවන්ගේ ගොනා උඩිං උඩිං කෑවා
මගේ ගොනා යටිං යටිං කෑවා.

පවනි : තම්පලා කාපු හොම්බ කෝ?

යාළුවෝ : මේ තියෙන්නේ.

යාළුවෝ තම තමාගේ නිකට පෙන්වා දුවන්නට පටන් ගත්තා. පවනි

දුවලා ගිහින් එක් කෙනෙක් අල්ලා ගත්තා.

පවනි : ඇල්ලුවා... ඇල්ලුවා... දැන් රවිඳු තමයි සීයා.

ඔක්කොම ආපහු සෙල්ලම පටන් ගත්තා. සීනුව නාද වුණා.

"එන්න එන්න දැන් ඉක්මනට පන්තියට යමු."

යාළුවෝ පන්තියට දිවුවා.

"මමත් දන්නවා සෙල්ලමක්. ඉඳිකටු හාරනවා කියලයි ඒකට කියන්නේ." සහන් කිවුවා.

"අනේ ඇත්ත ද? අපි හෙට ඒ සෙල්ලම කරමු." පවනි එහෙම කියද්දී ගුරුතුමා පන්තියට ආවා.

"ආයුබෝවන් ළමයි. මොනවා ගැන ද මේ කතාව?" ගුරුතුමා ඇහුවා.

"ආයුබෝවන් සර්, අපි අද පොල් කැඩුවා." කවීශා හයියෙන් කිවුවා.

"පොල් කැඩුවා?" ගුරුතුමා ළමයි දිහා බැලුවෙ පුදුමයෙන්.

"සර්, ඒක සෙල්ලමක්. මනුකයි පවනියි තමයි අපිට කියලා දුන්නේ." සහන් උත්තර දුන්නා.

"ආ... ඔව්. පොල් කැඩීම කියන්නේ අපේ ජන ක්‍රීඩාවක්. හුඟාක් ඉස්සර කාලේ ඉඳලා පුංචි ළමයි ඒ වගේ සෙල්ලම් කරලා තියෙනවා" ගුරුතුමා කිවුවා.

"සර් පුංචි කාලෙත් ඒ සෙල්ලම කළා ද?" පවනි ඇහුවා.

"ඔව් ඔව්. අතුරු මිතුරු දඹදිව තුරු, ආටක නාටක වේපට සුංගං, වගේ තවත් සෙල්ලම් හුඟාක් මමත් පුංචි කාලේ කරලා තියෙනවා" ගුරුතුමා කිවුවේ හිනා වෙලා.

“අපේ ආච්චි අම්මයි, ආතායි මටත් ඒ සෙල්ලම් කියලා දීලා තියෙනවා.”

“බොහොම හොඳයි මනුක, අලුත් අලුත් දේවල් ඉගෙන ගන්නවා වගේ ම අපේ රටේ පැරණි දේවල් ගැනත් ඉගෙන ගන්න එක හරි ම වැදගත්.

එහෙනම් දරුවනේ අපි ජන ක්‍රීඩා ගැන තවත් දේවල් ඉගෙන ගනිමු.”

ගුරුතුමා පාඩම පටන් ගත්තා.





# රජතුමාගේ ඔටුන්න

ගෙදර ගිය යාළුවෝ සවස ආයෙත් පාසලට ආවා.
ඒ, වාර අවසානයේ විවිධ ප්‍රසංගයට නාට්‍ය පුහුණු වෙන්න.

විවිධ ප්‍රසංගයෙන් පස්සේ නිවාඩු කාලේ.

"අපේ තාත්තා කිවුවා මේ ගමන කැලෑවක ඇවිදින්න යමුයි කියලා. මම කවදාවත් කැලෑවකට ගිහින් නැහැ. මම හරි ආසාවෙන් බලන් ඉන්නේ ඒ දවස එනකල්." පියුමි කිවුවා.

"අපි නම් ගමේ යනවා." රුවින්දි කිවුවා.

"ගමේ යන එකත් හොඳයි. ඒත් ඉතිං රටේ තොටේත් ටිකක් ඇවිදින්න ඕනෑ.
නැත්නම් ඉතිං ළිඳේ ඉන්න ගෙම්බො වගේ තමයි."
ගුරුතුමා ද කතාවට එකතු වුණා.
රජතුමාට රඟපාන පසිඳු තවම ඇවිත් නැහැ.

යාළුවෝ කසු කුසු ගෑවා.
"ළමයි දැන් අපි නාට්‍ය පුහුණුව පටන් ගනිමු." ගුරුතුමා කිවුවා.

"එතකොට රජතුමා..." පියුමි ඇසුවා.

"පසිඳු එනකල් මම රජ වෙන්නම්."
මනුක එක අතක් ඉනට ගසා අනෙක් අත ඉහළට ඔසවා
තාල තබා වටයක් කැරකුණා.

යාළුවෝ සිනා සුණා.

"ඇයි හිනා වෙන්නේ. මට රජ වෙන්න බැරි ද?
පසිඳු ආවා ම මම රජකම භාර දෙනවා."
මනුක කිවුවේ දෑත් දිගු කොට හිස නමමින්.
යාළුවෝ හොඳට ම සිනා සුණා.

"සිතුම්... එන්න ඉස්සරහට.
ඔයාගේ කොටස රඟපාන්න."





“පස්වාන් දහසකට බුදු වෙන්න දේවයන් වහන්ස,
මම ඔබ වහන්සේ ඉදිරියේ මුසා බස් දොඩනවා නොවෙයි.
ඒ මිනිහා මඩේ හිටවපු ඉන්න වගෙයි.

අඳේට කුඹුර දෙන්නම් කිවුවා මුලින් ම. ඒත් දැන් කෙළින් වචනයක් දෙන්නේ නැහැ.
සලකා බලන්නම්... සලකා බලන්නම්... හැමදාම සලකා බලන්නම්.”

“අන්න හරි, අද සිතුම් හොඳට රඟපෑවා. ඔය වගේ ම එදාටත් රඟපාන්න ඕනෑ.” ගුරුතුමා සිතුම්ගේ හිස අත ගෑවා.



“ඔය එන්නේ පසිඳුයි තරිඳුයි හරියට **ඉදිකටුවයි නූලයි** වගේ.” සිතුම් කිවුවෙ පසිඳුයි තරිඳුයි නැටුම් කාමරයට ඇතුළු වෙනකොට මයි.

“පසිඳු කොතැන ද තරිඳුත් එතැන. තරිඳු කොතැන ද පසිඳුත් එතැන. නාට්‍යයට නැති වුණත් තරිඳු ආවෙ පසිඳු ඉන්න නිසා.” සිතුම් කියාගෙන කියාගෙන ගියා.

"වෙලාවට වැඩ කරන්න පුරුදු වෙන්න ඕනෑ."
ගුරුතුමා පසිඳුගෙ පිටට තට්ටුවක් දැම්මා.

"නෑ සර්... තරිඳුගෙ මාමාගේ පුතා ළඟ ඔටුන්නක් තියෙනවා කිවුවා. අපි ඒක බලන්න ගියා."

"ඉතින් මෙච්චර පරක්කු වුණේ ඇයි?"

"තරිඳු මාමලාගේ ගෙදරට එක්ක ගියේ **පරංගියා කෝට්ටේ ගියා වගේ** පාරකින්.
මේ පාරෙන් ලෙහෙසියි කිය කියා මාව ලොකු වටයක් එක්ක ගියා. එනකොට ආවෙ කෙටි පාරකින්."

"කෝ ඉතිං ඔච්චර දුර ගිහින් ගෙනා ඔටුන්න?"
මනුක ඇහුවෙ ඔටුන්නක් පෙනෙන්න නොතිබුණු නිසා.

"අම්මෝ ... මෙයාගෙ මල්ලිගෙන් ඒ ඔටුන්න ඉල්ල ගන්න එක හරි අමාරුයි. ඒක **ඉබ්බන්ගෙන් පිහාටු ඉල්ලනවා වගේ** වැඩක්. හැබැයි තරිඳුගේ මාමා මට ඔටුන්නක් හදලා දෙන්න පොරොන්දු වුණා."
පසිඳු කිවුවා.

"හරි. දැන් ඔටුන්නත් හරි. රජ්ජුරුවොත් හරි. අපි නාට්‍ය පුහුණුව පටන් ගනිමු."

"මෙන්න, රජතුමනි රජකම භාර ගන්න" කියමින්
මනුක පසිඳු ඉදිරියේ දණ නමා දෑත් දිගු කළා.

යාළුවෝ ඔක්කොම එක හඬින් සිනාසුණා.
නාට්‍යය පුහුණු වීමට පටන් ගත්තා.





# 12 හැදෙමු අපිත් මේ වාගේ

ඉර පායන තෙක් නිදනා
අයගේ වැඩ පමා වෙනා
අරුණට පළමුව එයිනා
පිබිදෙනු මැන සැම දිනා



අලුයම දත් නොමැද යෙහෙන
මුව සෝදා නොගෙන එමෙන
අනිකෙකු ඉදිරියට මුහුණ
ගෙන නොදොඩනු මැන කිසි දින

කෑම කමින් චව් චව් යන
සද්ද නගා නොවිකනු මැන
කැඳ ආදිය බොන කල දැන
නොකරනු හඬ සුරු සුරු යන



ඉඳුල් අතින් පැන් බඳුන ද
නාල්ලනුව හැඳි ආදි ද
කටේ කෑම පුරවා ඉඳ
නොදොඩන් කිසි විටක සබඳ



මව්පිය ගුරුවරයන් හට
කීකරු විය යුතු සැම විට
ඔවුන් කියන යම් දේකට
නොවෙන් අකීකරු කිසි විට



අසල් ගෙවල්වල නිවසන
ළමයින් සමගින් කිසි දින
සණ්ඩු දබර නොකරනු මැන
සමගිකමින් නිවසනු මැන



තැන්තැන්වල මුලු මුලුවල
එකතු කරනු එපා කසළ
මකුළු දැල් ද වෙනත් කසළ
සුද්ද කරනු ලෙසින් නිමල



තබා තිබෙන පිළිවෙළිනා
කිසියම් බඩුවක් සොබනා
අහකට ගත්තොත් එයිනා
නැවත තබනු තුබු ලෙසිනා

මාර්ටින් වික්‍රමසිංහගේ 'බාලෝපදේශය'
පොතෙන් උපුටා ගන්නා ලදි.






# බදුලු ගමන




අපි උදෑසනින් ම කොළඹ කොටුව දුම්රිය ස්ථානයට පැමිණියෙමු. ඒ බදුල්ලේ යෑමට යි.

තාත්තා ප්‍රවේශපත් මිල දී ගත්තේ ය. දුම්රිය කාල සටහන ද කියවා බැලුවේ ය. අපි ගමන් මලු රැගෙන බදුලු දුම්රිය නවත්වන වේදිකාවට ගියෙමු.

ශබ්ද විකාශන යන්ත්‍රයෙන් වරින් වර දුම්රිය ගමන් තොරතුරු නිවේදනය විය.

“පස් වන වේදිකාවේ නවත්වා ඇති දුම්රිය තව ස්වල්ප වේලාවකින් ගාල්ල බලා පිටත් වේ. එය කොළඹ කොටුවේ සිට ගාල්ල දක්වා සෑම දුම්රිය ස්ථානයක ම නතර කරනවා ඇත.”

නංගීත් මමත් ඒ නිවේදනයේ වාක්‍යයක් දෙකක් තාලයට කියා විනෝද වූයෙමු. නංගී නිවේදන අසමින් තම සටහන් පොතේ, දුම්රිය ස්ථානවල නම් ලියා ගත්තා ය. ගමනක් යද්දී අවට ඇති දැන්වීම්, නාම පුවරු කියවීම ද ඇගේ පුරුද්දකි.



ගැරුප්පුවක්, හැන්දක් සහ පිඟානක් යෙදූ සංකේතයක් ආපණ ශාලාව ඉදිරියේ තිබිණි. ගැහැනු පිරිමි රූප සංකේත දොරටුවේ තිබීම නිසා වැසිකිළිය හඳුනා ගැනීමට පහසු ය. අදාළ දිශා දැක්වීමට ඊතල ද ඇඳ තිබිණ. නංගී ඒ සංකේත ද සටහන් පොතේ ඇන්දා ය.

"කවුද ආච්චි අම්මේ කෝච්චිය පදවන්නේ?"

දුම්රිය රියැදුරු ගැන ආච්චි අම්මා විස්තර කළා ය.

"අර පිටිපස්සෙ ම පෙට්ටියේ සුදු ඇඳුමක් ඇඳගෙන ඉන්නේ කවුද?" නංගී ඇසුවා ය.

"ඒ තමයි දුම්රිය නියාමක." ආච්චි අම්මා පැවසුවා ය.



''දුම්රිය නියාමක මාමා කොළ කොඩියක් වනන්නේ මොකට ද? ඒ ප්‍රශ්නය ඇසුවේ ද නංගී ය.

"දුවේ, කොළ කොඩිය වනන්නේ 'ගමන අරඹන්න.' රතු කොඩිය වනන්නේ 'නවත්වන්න' කියලා කියන්න. අනතුරකදීත් රතු කොඩිය වනනවා."

බදුල්ල බලා යන දුම්රිය වේදිකාවට පැමිණියේ ය.

අපි පරිස්සමෙන් දුම්රියට නැගුණෙමු. සියලු දෙනා දෙපස ආසනවල අසුන් ගත්තේ ඉතා සතුටිනි.



"අත්තම්මේ රෑට කෝච්චියේ කොඩි වැනුවට පේන්නේ නැහැ නේද?" මම ඇසුවෙමි.

"නැහැ පුතේ, රෑට කොළ, රතු විදුලි පන්දම් එළිවලින් තමයි සංඥා දෙන්නේ," පිළිතුරු දුන්නේ තාත්තා ය.

ආතා අපට කතාවක්
කියා දුන්නේ ය.
ඒ කෝච්චි පාරේ අවදානමක්
දැක රතු කමිසයක් වනා
කෝච්චිය නවත්වා ගත්
පුංචි වීරයකු ගැන යි.



"දුව සටහන් පොතේ මොනවා ද ලියා ගත්තේ?" අම්මා ඇසුවා ය.

"පහු වුණු දුම්රිය ස්ථානවල නම් ලිවුවා. දුම්රිය ස්ථානයේ තිබුණු සංකේත ඇඳ ගත්තා," නංගී කීවේ සතුටිනි.
"හෙට අපි ඇවිදින්න ගියා ම දුවට තව හුඟාක් දේවල් ලියා ගන්න

පුළුවන් වෙයි.” ආච්චි අම්මා කීවා ය.

“පුතා මොක ද බර කල්පනාවක?” ආතා ඇසී ය.

“මමත් ආතා කියූ කතාවේ හිටපු ළමයා වගේ හොඳ වැඩක් කරන්න ඕනෑ.” මම කීවෙමි.

“කොච්චර හොඳ ද පුතේ” ආතා කීවේ සතුටිනි.

“දැන් බදුල්ලට ළඟයි. කෝච්චිය නැවැත්තුවා ම පරිස්සමෙන් බහින්න ඕනෑ.” තාත්තා කීවේ ය.

දුම්රිය නැවැත්වී ය. නංගීත් මමත් එයින් බැස ගත්තේ හෙට දිනයේ බොහෝ දේවල් දකින බලාපොරොත්තුවෙනි.






# අශ්ව පැටියා

අශ්ව පැටියා ජීවත් වුණේ එයාගේ අම්මා එක්ක. එයා දැන් ටිකක් ලොකුයි. ඒත් හැම තිස්සෙ ම අම්මා ළඟට වෙලා ඉන්න තමයි එයා කැමති. දවසක් අම්මා අශ්ව පැටියාගෙන් උදව්වක් ඉල්ලුවා. ඇඹරුම්හලට ගිහින් පුංචි තිරිඟු මල්ලක් කොටා ගෙන එන්න කියලා. අශ්ව පැටියා ගමනට පිටත් වුණා. පිට උඩ පුංචි තිරිඟු මල්ලක්. ටිකක් දුර යද්දි අශ්ව පැටියා ගඟක් දැක්කා. වැඩිය ගැඹුරු නැහැ. ගඟෙන් එගොඩට යන්නේ කොහොම ද කියලා අශ්ව පැටියා කල්පනා කළා. වටපිට බැලුවා. ගෝණෙක් තණ කොළ කමින් හිටියා.



| | |
|---|---|
| අශ්ව පැටියා : | මාමේ, මට මේ ගඟෙන් එගොඩට යන්න පුළුවන් වෙයි ද? |
| ගෝණා : | අපොයි මොක ද බැරි? ඔයාට පේන්නේ නැද්ද ගඟ එච්චර ගැඹුරු නැති බව. |
| අශ්ව පැටියා : | එහෙනම් ඔන්න මම යනවා. |
| ගෝණා : | බය වෙන්න එපා පුතා, මගේ කකුල්වලින් උඩට වත් ගඟේ වතුර නෑ. ඔයාට එගොඩට යන්න පුළුවන්. |



අශ්ව පැටියා ඉවුරට අඩිය තිබ්බා. කවුරු හරි කතා කරන ශබ්දයක් එයාට ඇහුණා. ලේනෙක් ගඟ ළඟ ලොකු ගහක අත්තක හිටියා.



ලේනා : හෝව්... පොඩ්ඩක් ඔහොම ඉන්න. ඇයි ඔච්චර හදිස්සි වෙන්නේ?

අශ්ව පැටියා : ඇයි එහෙම කියන්නේ?

ලේනා : ඔය ගඟ හරි ගැඹුරුයි. ඔයා ගිලෙයි. බහින්න නම් එපා.

අශ්ව පැටියා: එහෙනම් අර මාමා කිවුවේ වැඩිය ගැඹුරු නෑ කියලා. ඔයා කොහොම ද කියන්නේ ගැඹුරුයි කියලා?

ලේනා : අනේ එයා මොනවා ද දන්නේ? එයාගේ බොරු කතා. ඔයා දන්නව ද අශ්ව පැටියෝ, ඊයේ උදේ මගේ හොඳ යාළුවෙක් ඔය ගඟට වැටුණා. ගඟේ වතුර පාරට එයා ගහ ගෙන ගියා.

අශ්ව පැටියාඃ (පුදුමයෙන්) ඔය ඇත්ත ම ද?

ලේනා : මම මොකට ද බොරු කියන්නේ? ගඟ ගැඹුරු නැත්නම් එහෙම ගහගෙන යයි ද? ඔන්න මම ඔයාගේ හොඳටයි කියන්නේ. බහින්න නම් එපා.

අශ්ව පැටියා : දැන් මොකද කරන්නේ? අම්මා වත් හිටියා නම් අහන්න තිබුණා.

ගෝණා : ඔය ලේනාගේ කතා ගණන් ගන්න එපා දරුවෝ. යන්න ආ ගමන යන්න.



ලේනා : ගණන් ගන්න එපා? අනේ, අනේ, ඊයේ මගේ යාළුවාට වුණ දේ දැක්කා නේ ද? ඔයා හදන්නේ මේ පුංචි අශ්ව පැටියා කරදරේක දාන්න. යන්න නම් එපා පැටියෝ.

අශ්ව පැටියා: අනේ ඔය දෙන්න රණ්ඩු වෙන්න ඕනෑ නෑ. මම ආපහු ගෙදර යනවා. අම්මා මට කියලා දෙයි මොකද කරන්න ඕනෑ කියලා.

අශ්ව පැටියා ඉක්මනින් ගෙදර එනවා දැකලා අම්මා පුදුම වුණා.

අශ්ව අම්මා: පුතා මෙච්චර ඉක්මනට ගිහිල්ලත් ආවා ද?

අශ්ව පැටියා : නෑ අම්මේ, මට බැහැ ගඟෙන් එගොඩට යන්න.

අශ්ව අම්මා : ඇයි පුතේ?

අශ්ව පැටියා : ගඟ ළඟ හිටිය ගෝණ මාමා කෙනෙක් කිවුවා ගඟ ගැඹුරු නෑ එගොඩට යන්න පුළුවන් කියලා. එයාගේ කකුල් වැහෙන්න වත් වතුර නෑ කිවුවා.

අශ්ව අම්මා : එහෙනම් නොගියෙ ඇයි?

අශ්ව පැටියා : මම යන්න තමයි හැදුවේ. ලේනා කිවුවා ඊයේ එයාගෙ යාළුවෙක් ගහගෙන ගියා කියලා, වතුර පාරේ සැරට.



අශ්ව අම්මා: ඉතින් පුතා හොඳට කල්පනා කරලා බැලුවා ද, ඒ දෙන්නා කී දේවල් ගැන?

අශ්ව පැටියා: හොඳට කල්පනා කරලා බැලුවේ නෑ අම්මේ.

අශ්ව අම්මා: දැන් එහෙනම් ආපහු හිතලා බලන්න. ගෝණා මාමා කොච්චර ලොකු ද, උස ද කියලා. ඒ වගේ ම ඔයාගේ උසයි, ලේනාගේ උසයි ගැනත් හිතන්න.

අශ්ව පැටියා: අනේ ඇත්ත ම යි. මට දැන් තමයි තේරුණේ. මම කලින් ඒ ගැන හොඳට හිතලා බැලුවේ නෑ නේ. මම ආපහු යනවා. ඉක්මනට ගිහින් එන්නම් අම්මේ.

අශ්ව අම්මා: හොඳයි මගේ පුතේ, පරිස්සමෙන් ගිහින් එන්න.




# අග මුල සෙවූ හැටි

ඈත අතීතයේ දඹදිව මියුලු නුවර වේදේහ නම් රජෙක් රජකම් කළේ ය.

මියුලු නුවර ප්‍රධාන ගම් හතරක් විය. යවමැදුම්ගම ඉන් එකකි. ඒ ගමේ නායක සිටුතුමා සිරිවඩ්ඪන නම් විය. ඔහුගේ බිරිඳ සුමනා දේවිය යි. ඔවුන්ට නුවණැති පුත් කුමරෙක් විය.

ඔහු මහෞෂධ නමින් හැඳින්විණි. ඔහුගේ නුවණැති බව මියුලු නුවර පුරා කතා බහට ලක් විය. වේදේහ රජතුමාට ද මේ තොරතුරු දැන ගන්නට ලැබිණි.

රජතුමා මහෞෂධගේ නුවණ පරීක්ෂා කිරිමට සිතී ය. ඔහු වරින් වර ඒ සඳහා යවමැදුම්ගම වැසියන්ට ගැටලු යොමු කළේ ය.

දිනක් රජතුමා අග මුල සමාන කිහිරි දණ්ඩක් ගම් වැසියන්ට එවුවේ ය. ඒ අග මුල සලකුණු කිරීමට යි. එය නිවැරදිව කළ නොහැකි වුව හොත් දහසක දඩයක් ගෙවීමට සිදු වන බව ද දන්වා තිබිණි.

ගම් වැසියෝ ඉක්මනින් සිරිවඩ්ඪන සිටුතුමා හමු වූහ.

කාරණය කුමක් දැ යි
සිරිවඩ්ඪන සිටුතුමා ගම් වැසියන්ගෙන්
විමසුවේ ය.



"සිටුතුමනි, අපට අනුකම්පා කරනු මැනවි. මේ කිහිරි දණ්ඩෙහි අග මුල දැන ගැනීමට වුවමනා ය. එය රාජ නියෝගයකි. නැත හොත් දහසක දඩයකට යටත් වීමට සිදු වනු ඇත. නුවණැති මහෞෂධ කුමරු ලවා මීට විසඳුමක් ලබා දෙනු මැනවි," ඔවුහු ඉල්ලා සිටියහ.

සිටුතුමා මහෞෂධ කුමරු කැඳවී ය. ගැමියෝ කුමරුට කිහිරි දණ්ඩ පෙන්වා එහි අග මුල සොයා දෙන ලෙස ඉල්ලූහ.

'රජතුමාට කිහිරි දණ්ඩෙහි අගින් හෝ මුලින් කිසිදු ප්‍රයෝජනයක් නැත. මේ මාගේ නුවණ පරීක්ෂා කිරීමේ වෑයමක් විය හැකි ය.' මහෞෂධ කුමරු සිතී ය.

"මේ ගැටලුව මම විසඳමි," කුමරු ගම් වැසියන්ට කී ය.



ඉන් අනතුරුව ඔහු කිහිරි දණ්ඩ අතට ගෙන හොඳින් පරීක්ෂා කළේ ය. පැන් බඳුනක් සහ ලණුවක් ගෙන එන ලෙස දැන්වූයේ ය.

කුමරු, ලණුව කිහිරි දණ්ඩේ මැදින් ගැටගැසී ය. ලණුවේ කෙළවර අල්ලා ගෙන කිහිරි දණ්ඩ පැන් බඳුනෙහි ගිල්වී ය.

කිහිරි දණ්ඩේ මුල පැත්ත බර වැඩි බැවින් පළමුව දියේ ගිලුණි.

කුමරු ගම් වැසියන්ගෙන් මෙසේ විමසී ය.

"බරෙන් වැඩි වන්නේ ගසක මුල කොටස ද? අග කොටස ද?"

"කුමරුනි, මුල කොටස බරින් වැඩි යැ"යි ගම් වැසියෝ මහ හඬින් ප්‍රකාශ කළහ.



ඉන් පසු මහෞෂධ කුමරු "එසේ නම් දණ්ඩෙහි පළමුව දියේ ගිලුණු කොටස මුල යි. අනෙක් කොටස අග යි." යනුවෙන් පැවසී ය.

මහෞෂධ කුමරු කිහිරි දණ්ඩ පිළිබඳ ප්‍රශ්නය විසඳූ ආකාරය පිළිබඳව ගම් වැසියෝ මහත් සතුටට පත් වූහ.

රජතුමා ද මහෞෂධ කුමරුට ප්‍රශංසා කොට තෑගි ද ලබා දුන්නේ ය. ඔහු වේදේහ රජතුමාගේ සේවයට එක් වී බොහෝ ගැටලු විසඳී ය.

පසු කලෙක මහෞෂධ පඬිතුමා ලෙස ප්‍රකට විය.



# 16 අහසින් ගිය සොහොයුරෝ



අහසේ පියාසර කරන ගුවන් යානා ඔබ ඕනෑ තරම් දැක ඇති. එහෙත් ගුවන් යානය මුලින් ම නිර්මාණය කළේ කවුරුන් දැ යි ඔබ දන්නවා ද? ඒ තමයි විල්බර් රයිට් සහ ඕවිල් රයිට්. ලෝකය ම ඔවුන් හඳුනන්නේ රයිට් සහෝදරයන් ලෙසිනුයි.



ගුවන් යානය නිපදවා ලෝකය ම පුදුමයට පත් කළ රයිට් සහෝදරයන්ගේ ළමා කාලය ඉතා දුක්ඛිත එකක් විය. ඔවුන්ට කුඩා අවධියේ දී නිසි පාසල් අධ්‍යාපනයක් නොලැබිණි. ජීවත් වූයේ ද සතුන්ගේ ඇටකටු පොහොර කම්හලකට විකුණා ලැබුණු සුළු ආදායමෙනි.

රයිට් සහෝදරයන්ගේ පියා ඔවුන් පුංචි කාලයේ දී කඩදාසි සහ රබර් පටිවලින් සෙල්ලම් අහස් යානා තනා දුන්නේ ය. ඔවුහු ඒවා ඉහළ යවා ඉමහත් සේ ප්‍රීති වූහ. දවසේ වැඩි වෙලාවක් ගෙවූයේ සෙල්ලම් ගුවන් යානා සමග ය. අහසේ පියාඹන කුරුල්ලන් දෙස බලා සිටීම ද ඔවුන්ගේ විනෝදාංශයක් විය. මේ නිසා ම අපූරු සිතුවිල්ලක් රයිට් සහෝදරයන්ගේ සිතට ඇතුළු විය. ඒ, ඉහළ අහසේ පියාසර කරන ගුවන් යානයක් තැනීමේ සිහිනය යි.



පසු කලෙක ඔවුහු බයිසිකල් වැඩපොළක් ඇරඹූහ. මේ වන විටත් ඉහළ යා හැකි යන්ත්‍රයක් ජර්මන් ජාතිකයකු විසින් නිපදවා තිබිණි. එහෙත් ඒ යන්ත්‍රය සමබර නොවීම නිසා බිම ඇද වැටිණි. තම බයිසිකල් වැඩපොළ තුළ දී ඉහළ යා හැකි යන්ත්‍රයක් සෑදීමට රයිට් සහෝදරයෝ දිවා රාත්‍රී නොබලා වෙහෙස වූහ. අවසානයේ දී ඔවුහු යන්ත්‍රයක් සෑදූහ. එම යන්ත්‍රය කොටස්වලට වෙන් කර ඒවාත් රැගෙන සැතපුම් සියගණනක් දුර තිබුණු විශාල තණ බිමකට ගියහ. එහි දී තම යන්ත්‍රය ඉහළ යැවීමට උත්සාහ කළහ. ඔවුන්ගේ උත්සාහය සාර්ථක විය.

විල්බර් රයිට් සහ ඕවිල් රයිට් නැවත තම බයිසිකල් වැඩපොළට පැමිණියහ. තමන් සෑදූ යන්ත්‍රය ගුවන් යානයක් දක්වා වැඩිදියුණු කළහ. එය ගුවන්ගත කිරීමට උත්සාහ කිරීමේ දී දම්වැලක් කැඩී යෑම නිසා කිහිපවරක් බිම ඇද වැටිණි. එහෙත් රයිට් සහෝදරයෝ අධෛර්යයට පත් නො වූහ. නැවත නැවත උත්සාහ කළහ.





රයිට් සහෝදරයෝ තමන් නිපදවූ ගුවන් යානයත් රැගෙන රේල් පාරකට ගියහ. රේල් පාරේ දී ගුවන් යානය ගුවන්ගත කෙරිණි. රේල් පීලි මත අඩි හතළිහක් පමණ ඇදී ගිය යානය ඉහළට නැංගේ ය. තත්පර දොළහක් ඉහළ තිබූ යානය නැවත බිමට පැමිණියේ ය. ඒ 1903 අවුරුද්දේ දෙසැම්බර් මාසයේ 17 වන දා ය. මිනිසකු රැගත් ගුවන් යානයක් ඉහළට ගිය පළමු වන අවස්ථාව එය යි. රයිට් සහෝදරයන්ගේ සතුට නිම් හිම් නැති විය.

රයිට් සහෝදරයෝ තම වික්‍රමය නැරඹීමට ඇමරිකාවේ යුද්ධ හමුදාවට ආරාධනා කළහ. එවර ගුවන් යානය විනාඩියකට වඩා වැඩි කාලයක් ගුවනේ පියාසර කළේ ය. හමුදා නිලධාරීහු ප්‍රීතියෙන් ඔල්වරසන් දුන්හ. ගුවන් යානය නිපදවූ වීරයන් ලෙස රයිට් සහෝදරයන්ට සැලකුම් ලැබිණි. ඔබ අද ඉහළ අහසේ පියාඹන ගුවන් යානා දකින්නේ විල්බර් රයිට්ගේ සහ ඕවිල් රයිට්ගේ මේ හපන්කම නිසා ය.



රට සරු කොට පෙරට ගන්න
ඉන්නෙත් අපිමයි
රට වෙනුවෙන් පෙරට යන්න
ඉන්නෙත් අපිමයි.

සරු පොළොවක් සමග අපට
සවි බල දෑතක් ඇතේ
මේ රට දෙව් ලොවක් කරන
අරමුණකුත් ඇත සිතේ

මහගම සේකර
සරු පොළොවක් අපට ඇතේ

# ගුරු උපදෙස්

සෑම කෙනෙකුට ම දක්ෂතා ඇත. සොබා දහම අයකුට සංගීත ශ්‍රවණයට ඇති හැකියාව දායාද කොට තිබෙන අතරවාරයේ අයකුට විද්‍යාවන් ඉගෙනීමට ඇති නැමියාව දායාද කොට ඇත. තුන්වැන්නාට ශිල්පීය දැත් ලබා දෙන අතරවාරයේ සිවුවැන්නාට චිත්‍රකාරයකුගේ දැත් හිමි කර දී තිබේ. තවත් අයකුට දායාද කොට තිබෙනුයේ ස්වාර්ථයෙන් තොරව මිනිසුන්ට සේවය කිරීමට සූදානම් දායාර්ද්‍ර හදවතක් පමණි.

**ලියෝ තෝල්ස්තෝයි**

ප්‍රාථමික අධ්‍යාපනයේ දෙවන ප්‍රධාන අවධිය ඇරඹෙන්නේ තුන්වන ශ්‍රේණියෙනි. මේ වන විට සියලු අකුරු, පිලි සහිතව උගෙන ඇති බැවින් කියවීම දරුවාට සමීප අත්දැකීමක් සේ සැලකිය හැකි ය. අකුරු හඳුනා ගැනීම, අකුරු එකතු කර වචන හා වාක්‍ය කියවීම පිළිබඳ හුරුවක් මේ අවධියේ දරුවන්ට ලැබී ඇත. ඒ හැකියාව තව දුරටත් වර්ධනය කරමින් කියවා යමක් අවබෝධ කර ගැනීමට දරුවා පුහුණු කිරීම කියවීම් පොතකින් මූලිකව අපේක්ෂා කෙරේ.

විවිධ තේමා සහ විවිධ ලේඛන ශෛලි පදනම් කර ගෙන මෙහි පාඩම් සකස් කර ඇත. ඒ කියවීමේ රුචිය වර්ධනය කරන ලේඛන කියවීමට අවස්ථාව ලබා දීමෙන් දරුවාගේ කියවීම සංවර්ධනය කිරීමට බලාපොරොත්තු වන බැවිනි. ඇස, මනස ආදි ඉන්ද්‍රියයන් සමෝධානිතව ක්‍රියාත්මක වන ක්‍රියාකාරකමක් වන කියවීම, වඩාත් ඵලදායි ජීවන අත්දැකීමක් බවට පත් කිරීමේ මුල් අඩියර ඇරඹෙන්නේ මේ අවධියේ දී ය. ඒ පිළිබඳව ද සැලකිලිමත් වෙමින් දරුවන්ගේ කියවීම සංවර්ධනය කිරීමට කටයුතු කළ යුතු ය.

2016 වර්ෂයේ සිට ක්‍රියාත්මක වන නව විෂය නිර්දේශය යටතේ සම්පාදිත මේ තුන්වන ශ්‍රේණිය සිංහල කියවීම් පොත පාඩම් 16කින් සමන්විත ය. ඒ පාඩම් 16ට අදාළ මූලික නිපුණතා සහ විෂය අන්තර්ගතයන් ඊළඟ පිටුවේ වගුවේ දක්වා ඇත. ඇතැම් පාඩම් විවිධ නිපුණතා සමෝධානිතව සම්පාදනය කර ඇති බැවින් ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලිය තුළ නිර්මාණාත්මකව භාවිතයට ඉඩ ප්‍රස්තා පවතී.

| | තේමාව/ක්ෂේත්‍රය | අන්තර්ගතය | නිපුණතාව | ඉගෙනුම් පල |
|---|---|---|---|---|
| 1 | පිලි සහිත සරල කතන්දරය | කොරවක් පැටික්කිට අකුරු කියවපු දා<br>මහාචාර්ය ජේ.බී. දිසානායක | R1 කියවීමේ යාන්ත්‍රණය අනුගමනය කරමින් කියවයි. | කියවීමේ කුසලතා ප්‍රදර්ශනය සඳහා ශබ්ද නගා කියවයි. |
| 2 | අවබෝධය සහ නිර්මාණාත්මක බව සඳහා පද්‍ය නිර්මාණයක් | තරු කැට<br>රත්න ශ්‍රී විජේසිංහ | R3 කැමැත්තෙන් හා රස විඳිමින් කියවයි. | ළමා කවි/කතන්දර, නාට්‍ය හා දෙබස් පිළිබඳ අවබෝධ කර ගෙන ඒ ඇසුරෙන් නිර්මාණ කරයි. |
| 3 | උත්සව | අපේ නිදහස් උත්සවය. | R7 භාෂාව හැසිරවීමේ කුසලතා වර්ධනය සඳහා කියවයි. | උත්සව පිළිබඳ තොරතුරු නිවැරදිව ඉදිරිපත් කරයි. |
| 4 | රස වින්දනය සඳහා පද්‍ය නිර්මාණය | මගේ රට<br>ශ්‍රී චන්ද්‍රරත්න මානවසිංහ | R3 කැමැත්තෙන් හා රස විඳිමින් කියවයි. | ළමා කවි/කතන්දර, නාට්‍ය හා දෙබස් පිළිබඳ අවබෝධ කර ගෙන ඒ ඇසුරෙන් නිර්මාණ කරයි. |
| 5 | චරිතාරෝපිත කතාව | හරි පුදුමයි | R3 කැමැත්තෙන් හා රස විඳිමින් කියවයි. | අදහස නිවැරදිව අවබෝධ කර ගෙන චරිතාරෝපිතව කියවයි. |
| 6 | සාහිත්‍ය සමිති | සභාවෙන් අවසර යි | R7 භාෂාව හසුරුවීමේ කුසලතා වර්ධනය සඳහා කියවයි. | අවස්ථාවට උචිත පරිදි මනාව භාෂාව හසුරුවයි. |
| 7 | තේරවිලි | තේරවිලි කවි 5 | R5 වාං මාලා සංවර්ධනය සඳහා කියවයි. | වාං මාලා පෝෂණය සඳහා වචන එක් රැස් කරයි. |
| 8 | විදෙස් ළමා කතන්දරයක් | නොගැළපෙන රෝද<br>පද්මා හර්ෂ කුරණගේ අනුවාදය ඇසුරෙන් | R3 කැමැත්තෙන් හා රස විඳිමින් කියවයි. | ළමා කතන්දර, කියවා ඒ පිළිබඳ කතා කරයි. |
| 9 | ක්ෂේත්‍ර චාරිකාව | මුහුදු වෙරළට චාරිකාවක් | R8 ඉගෙනුම් සංවර්ධනය සඳහා කියවයි | භාෂාව භාවිතයෙන් තම අත්දැකීම් ඉදිරිපත් කරයි. |
| 10 | ජන ක්‍රීඩා | පොල් කැඩීම | R7 භාෂාව හැසිරවීමේ කුසලතා වර්ධනය සඳහා කියවයි. | ජන ක්‍රීඩාවක යෙදෙමින් එහි වචන නිවැරදිව හසුරුවයි. |
| 11 | ප්‍රස්තාව පිරුළු භාවිතය | නිර්දිෂ්ට ප්‍රස්තාව පිරුළු ඇතුළත් කතන්දරය | R5 වාං මාලා සංවර්ධනය සඳහා කියවයි. | ප්‍රස්තාව පිරුළු නිවැරදිව භාවිත කරයි. |
| 12 | අවබෝධය සඳහා පද්‍ය නිර්මාණයක් | බාලෝපදේශයෙන් උපුටා ගත් කවි 8<br>මාර්ටින් වික්‍රමසිංහ | R3 කැමැත්තෙන් හා රස විඳිමින් කියවයි. | ළමා කවි/කතන්දර, නාට්‍ය හා දෙබස් පිළිබඳ අවබෝධ කර ගෙන ඒ ඇසුරෙන් නිර්මාණ කරයි. |
| 13 | තොරතුරු | බදුලු ගමන | R4 එදිනෙදා අවශ්‍යතා ඉටු කර ගැනීම සඳහා කියවයි. | තොරතුරු සොයා සටහන් තබා ගනියි. |
| 14 | සංවාදය | අශ්ව පැටියා<br>චීන කතාවක පරිවර්තනයක් ඇසුරෙන් | R3 කැමැත්තෙන් හා රස විඳිමින් කියවයි. | ළමා කවි/කතන්දර, නාට්‍ය හා දෙබස් පිළිබඳ අවබෝධ කර ගෙන ඒ ඇසුරෙන් නිර්මාණ කරයි |
| 15 | පැරණි කතන්දරයක් | අග මුල සොයූ හැටි<br>(උම්මග්ග ජාතකයේ දණ්ඩක ප්‍රශ්නය ඇසුරෙන්) | R5 වාං මාලා සංවර්ධනය සඳහා කියවයි. | කතන්දර කියවා තර්කානුකූලව අදහස් ඉදිරිපත් කරයි. |
| 16 | විද්‍යාත්මක සොයා ගැනීම් | අහසින් ගිය සොහොයුරෝ<br>ගුවන් යානය සොයා ගත් රයිට් සහෝදරයෝ | R9 අවබෝධ කර ගත් දේ භාවිතයෙන් නිර්මාණශීලීව සහ අවස්ථෝචිතව කියවයි. | විවිධ තොරතුරු ඇසුරු කර ගෙන නිර්මාණාත්මකව ඉදිරිපත් කරයි. |

මහාචාර්ය ජේ. බී. දිසානායකගේ **අකුරු මිහිර 3** කෘතියෙන් උපුටා ගන්නා ලද කොරවක් පැටික්කිට අකුරු කියවපු දා නම් සරල කතන්දරය 'ක්' අක්ෂරයට ආ, ඇ, ඈ, ඉ, ඊ, උ, ඌ එ, ඒ, ඔ, ඕ යන ස්වර ශබ්ද ගැන්වූ වචන භාවිතයෙන් සම්පාදිත ය. දෙවන ශ්‍රේණියේ අවසානය දක්වා උගත් පිලි සහිත අකුරු නැවත සිහිපත් කිරීමේ අරමුණින් මේ කතන්දරය පළමු පාඩම ලෙස ඇතුළත් කර ඇත. ඒ අනුව පිලි සහිත අකුරු කියවීම සඳහා ද මේ පාඩම උපයෝගි කර ගත හැකි ය.

රත්න ශ්‍රී විජේසිංහගේ **සැලළිහිණියෝ** පද්‍ය සංග්‍රහයෙන් උපුටා ගන්නා ලද තරු කැට නිර්මාණය මෙහි දෙවන පාඩම ලෙස ඇතුළත් කර ඇත. විචිත්‍රවත් ළමා ලෝකයේ සිතුවිලි නිරූපණය කෙරෙන එම නිර්මාණය ඔස්සේ දරුවන් කවි රස විඳීමට පෙලඹවීම එහි මූලික අරමුණ යි. සොබා දහමේ චමත්කාරය හා බැඳුණු එම නිර්මාණය භාවිතයෙන් සරල සිදුවීම් ඇසුරු කර ගෙන දරුවන් නිර්මාණකරණයට යොමු කිරීම ද මේ පාඩමෙන් අපේක්ෂිත ය.

තුන්වන පාඩමට පදනම් වී ඇත්තේ අපේ නිදහස් උත්සවය යි. රටේ සියලු වැසියන් පොදුවේ සංහිඳියාවෙන් සමරන උත්සවයක් වීම එය තෝරා ගැනීමට මූලික නිර්ණායකය විය. ජාතික උත්සව පිළිබඳ අවබෝධයක් ලබා දීම එහි අරමුණ ය.

ශ්‍රී චන්ද්‍රරත්න මානවසිංහයන්ගේ නිර්මාණයක් වන මගේ රට පැදි පෙළ දේශාභිමානී හැඟීම් දනවන්නකි. පරිසරයේ සුන්දරත්වය, සශ්‍රීකත්වය පිළිබඳ කියැවෙන, දරුවන් උදෙසා ම රචිත මේ නිර්මාණය දරුවන් තුළ තම මව්රට පිළිබඳ ආදරය, අභිමානය ගොඩ නැංවීමේ ලා ඉවහල් වන්නකි.

හරි පුදුමයි පාඩමෙන් අවට පරිසරය පිළිබඳව නිරීක්ෂණ ඇසකින් බැලීමට යොමු කිරීම මෙන් ම, විවිධ චරිත ආරෝපණය කර ගෙන කතා කිරීමට හුරුව ලැබීමත් හා ඊට අදාළ තොරතුරු ඒක රාශී කර ගැනීමට පෙලඹවීමක් අපේක්ෂා කෙරේ.

හයවැනි පාඩම පන්ති සමිති සංකල්පය පදනම් කර ගෙන සකස් කර තිබේ. සමිතියක දී භාෂාව හසුරුවන ආකාරය, පන්ති සමිතියක ස්වරූපය දරුවන් ඉදිරියේ නිරූපණය කෙරෙන මේ පාඩම ප්‍රායෝගිකව පන්ති කාමරයේ ක්‍රියාකාරකමක් ලෙස යොදා ගත හැකි ය.

හත්වැනි පාඩමට ඇතුළත් වන්නේ තේරවිලි පහකි. තාර්කික චින්තනය දියුණු කෙරෙන අභ්‍යාසයක් වන තේරවිලි, අතීතයේ සිට ම පැවත එන භාෂාමය ක්‍රියාකාරකමකි.

අටවැනි පාඩම ලෙස තෝරා ගෙන ඇත්තේ පද්ම හර්ෂ කුරණගේගේ අනුවාදයක් වන **කතන්දර හා පින්තූර** පොතෙන් උපුටා ගන්නා ලද නොගැළපෙන රෝද නම් කතන්දරය යි. වී. සුතේයෙව්ගේ නිර්මාණයක් වන එහි චිත්‍ර නිර්මාණ ශිල්පියා ද සුතේයෙව් ය. පෙළපොත සඳහා එම චිත්‍ර ඇතුළත් කිරීමට අනුග්‍රහය දක්වූ ප්‍රගති ප්‍රකාශකයන්ට හා කැනොල් ප්‍රකාශකයන්ට මෙහිලා අපගේ ප්‍රණාමය හිමි වේ. උත්සාහය, උනන්දුව, ලැබෙන සම්පත්වලින් උපරිම ප්‍රයෝජන ගැනීම මෙන් ම සුහදතාව, අන් මත ගරු කිරීම, ඉවසීම බෙදා හදා ගැනීම වැනි යහපත් ආකල්ප වර්ධනය කිරීම ද පාඩමෙන් අරමුණු කෙරේ.

නවවැනි පාඩමට තේමා වී ඇත්තේ ක්ෂේත්‍ර චාරිකා ය. මුහුදු වෙරළට චාරිකාවක් ලෙස නම් කර ඇති එය භාෂාව භාවිතයෙන් තම අත්දැකීම් ඉදිරිපත් කිරීම අරමුණු කර ගෙන ඇත. ආරක්ෂාව, සමූහිකත්වය, අවට පරිසරය පිළිබඳ අවබෝධය ආදි සංකල්ප ඉස්මතු කෙරෙන පාඩමකි.

ශ්‍රී ලංකාවේ ජන ක්‍රීඩා පිළිබඳව දැනුවත් කිරීම අරමුණු කර ලියා ඇති ජිංජි බරස් බරස් බරස් පාඩම තුළින් සාමූහිකත්වය, සමගිය, අන් අයට සවන් දීම, නායකත්වය ගරු කිරීම වැනි යහපත් ගුණාංග වර්ධනය කිරීම බලාපොරොත්තු වේ. මෙහි ඇතුළත් ඇතැම් යෙදුම් විවිධ ප්‍රදේශවල විවිධ ආකාරයට භාවිත කෙරෙන බව සිහිපත් කළ යුතු ය. (නිදසුනඃ 'දඩිං බිඩිං ඩෝං' යන්න 'දඩීරියං බිඩීරියං', 'ගිඩීරියන් ගිඩීරියන්' ආදි වශයෙන් යෙදීම)

රජතුමාගේ ඔටුන්න පාඩමට ඇතුළත් වන්නේ නිර්දිෂ්ට ප්‍රස්තාව පිරුළු පහ භාවිතයෙන් නිර්මාණය කර ඇති කතාවකි. එහි දී යෙදී ඇති පරිසරය අනුව ප්‍රස්තාව පිරුළෙහි අරුත ග්‍රහණය කර ගැනීමට දරුවාට ඉඩ සැලසෙනු ඇත. දරුවන්ට සමීප අත්දැකීම් ඇසුරෙන් පාඩම සකස් වී ඇත.

මාර්ටින් වික්‍රමසිංහගේ **බාලෝපදේශය** කෘතියෙන් උපුටා ගන්නා ලද කවි අටක්, හැදෙමු අපිත් මේ වාගේ පාඩමෙහි අන්තර්ගත වේ. එදිනෙදා ජීවිතය සාර්ථක කර ගැනීම සඳහා දරුවකුට වැදගත් වන හැසිරීම් පිළිබඳ උපදේශ ලබා දීම මේ උපදේශ පද්‍යයන්හි අරමුණ යි. කාලීන පාරිසරික අර්බුද වැළැක්වීමට අදාළ උපදෙස් කිහිපයක් ද මෙහි දක්වේ. සෑම සිසුවකු ම යහපත් චාරිත්‍ර වාරිත්‍ර අනුගමනය කරනු ඇතැයි එයින් අපේක්ෂා කෙරේ.

බඳුලු ගමන පාඩම මගින් අවට පරිසරය පිළිබඳව විමසිලිමත් වීමට හුරු කිරීමත් අවශ්‍ය වැදගත් තොරතුරු වාර්තා කර ගැනීමේ පුරුද්ද ඇති කර ලීමත්, මෙවැනි චාරිකා සංවිධානය කිරීම මගින් පරිසරය තේරුම් ගැනීමට අවස්ථා සම්පාදනය කිරීමත් බලාපොරොත්තු වේ. විවිධ තොරතුරු සංකේත නිවේදන ආදිය පිළිබඳ මෙහි දී අවධානය යොමු කර ඇත.

දහ හතර වන පාඩම සංවාදයක් ඉදිරිපත් කිරීම අරමුණු කර ගත්තකි. ඒ සඳහා නූතන චීන ලේඛකයන්ගේ කතා ඇතුළත් **මැජික් නළාව හා වෙනත් කතා** (පරිවර්තනයඃ රංජිත් ඉලුප්පිටිය) කෘතියෙන් උපුටා ගත් කතාවක් උපයෝගි කර ගෙන තිබේ. මැනවින් විමසා බලා කටයුතු කිරීමේ වැදගත්කම කියැවෙන එහි වැඩිහිටියන්ට උපකාර කිරීම වැනි කරුණු ද අන්තර්ගත වේ.

අග මුල සෙවූ සැටි නම් පාඩම උම්මග්ග ජාතකයේ දණ්ඩක ප්‍රශ්නය ඇසුරෙන් සකස් වූවකි. දරුවන්ට ප්‍රායෝගිකව පරීක්ෂා කළ හැකි අත්දැකීමක් අන්තර්ගත, අපේ සාම්ප්‍රදායික සාහිත්‍යයෙන් උපුටා ගත් කතාවක් කියවීමට සැලැස්වීමෙන් මූලිකව අපේක්ෂා කර ඇත්තේ වාංමාලා සංවර්ධනය යි. තර්කානුකූලව ගැටලු විසඳීම මේ කතාවෙන් ඇගයීමට ලක් කෙරෙයි. යම් ගැටලුවක දී තර්කානුකූලව විසඳුම් මාර්ග සෙවීමට පෙලඹවීමත්, කියවීමේ රුචිය වර්ධනය කිරීමත්, විවේකය ඵලදායීව ගත කිරීමට කියවීම යොදා ගැනීමට හුරු කිරීමත් මේ පාඩමෙන් බලාපොරොත්තු වේ.

විද්‍යාත්මක සොයා ගැනීමක් පිළිබඳව ලියැවුණු අහසින් ගිය සොහොයුරෝ පාඩම මගින් නිර්මාණශීලිත්වය වර්ධනය කරමින් නව සොයා ගැනීම් සඳහා පෙලඹවීමත්, එවැනි ඉතිහාසගත තොරතුරු කියවීමට පෙලඹවීමත් අපේක්ෂා කෙරේ. නොපසුබට උත්සාහය සාර්ථකත්වයට හේතු වන ආකාරය මේ පාඩමෙන් අනාවරණය කෙරේ.

කැමැත්තෙන් හා රස විඳිමින් කියවීමට දරුවන්ට ඉඩ සැලැස්වීමට මේ කියවීම් පොත සම්පාදනයේ දී වැඩි අවධානයක් යොමු විය. එහි දී ප්‍රවීණ ලේඛකයන්ගේ නිර්මාණ තෝරා ගැනීමට ද කටයුතු කෙරිණි. ඒ ප්‍රවීණ ලේඛකයන්ට අපගේ නොමඳ ප්‍රණාමය හා ගෞරවය හිමි වෙයි. අපේ නිදහස් උත්සවය, හරි පුදුමයි, අහසින් ගිය සොහොයුරෝ ආදි පාඩම් සඳහා අන්තර්ජාලයෙන් උපුටා ගන්නා ලද ඡායාරූප ද භාවිත කර ඇත. ඒවායේ නිර්මාණකරුවන්ට ද කෘතඥතාව පිරිනැමෙයි.